


"ටක් - ටක් - ටක්!"
"කවුද දොරට තට්ටු කරන්නෙ ?"
"ඒ මමයි."
"මමයි කියන්නෙ කවුද ?"
"මම, අලුත් අවුරුද්ද."
"මොනවද ඔබට ඕන ?"
"මට ඕනෑ පොඩිත්තන් බලන්න."
"මොනවද ඔබ ගෙනාවෙ ?"
"තෑග්ගක්."
"ඇතුළට එන්න අලුත් අවුරුද්ද.
අපි සතුටුයි ඔබ බලන්න!"

දැනුම හා පිදුම ගෙන බබලන්න මිස ලොවේ

ඔබ දිනුවෙ දිවා කල් නිදියෙන්න හෙම නොවේ

~ සීයා







3. "මට ඒක අල්ලන්න දෙන්න!" කෝල්යා කීවා. "නෑ, ඒක ඔයාට හුඟාක් බරයි, ඔයා තාම පුංචි ළමයෙක්!"

1. ආසයි මේ පොදිවල තියෙන තෑගි බලන්න!







4. "මේක ඇතුළෙ මොනවහරි රස කෑමක් ඇති!" රෝවර් සිතුවා.

2. "ඒක මටයි" චාල්යා කීවා. "නෑ, ඒක මටයි" ගාල්යා කීවා.






5. "මේ වගේ ලොකු පෙට්ටියක් අපි අරින්නෙ කොහොම ද?" පේත්යා ඇහුවා.

අපි ඒ ගොල්ලන්ට උදව් කරමු! අනික් පිට පෙරළන්න. එතකොට ඔයාට පෙනෙයි, කොහොමද ඒක කරන්නෙ කියල.





හුඟාක් පුංචි කතුරක් ගන්න. අර ගෙන හීන් සීරුවේ රතු ඉරි දිගේ කපන්න, මෙහෙම කළාම ඔබට පෙනේවි පුංචි දොරවල් පහක්. දැන් ඒව නමන්න කළු තිත් ඇති ඉරි දිගේ. එච්චරයි... නමුත් පුංචි දොරවල් අරින්න ඕන කොයි පැත්තෙන් දැයි ඉස්සරවෙලා හිතා බලන්න.









බලන්න, නත්තල් සීයා ළඟ නව කොයිතරම් සෙල්ලම් බඩු තියනවද! ඔබ ඕන එකක් තෝරා ගන්න!

# ඔරුව



එකෝමත් එක දවසක මැඩියකුයි, කුකුල් පැටියකුයි, මීයකුයි, කුඹියකුයි, කුරුමිණියකුයි ගමනක් ගියා.



ඔහොම යන කොට මේ අය පුංචි ඔයක් ළඟට ආවා.
"අපි නාමු" මැඩියා කීවා. කියල පැන්නා වතුරට.
"අපි පීනන්න දන්නෙ නෑ!" කුකුල් පැටියයි, මීයයි, කුඹියයි, කුරුමිණියයි කීවා.



"උඹලගෙන් ඇති වැඩේ මොකක්ද" කියල මැඩිය "බක බක බක" ගාලා හිනාවෙන්න පටන් ගත්තා. ඌ කොතෙක් හිනාවුණා ද කීවොත් වතුර ගිලිල නො මැරුණා විතරයි.



කුකුල් පැටියටයි, මීයටයි, කුරුමිණියටයි, බොහොම හිතට අමාරු වුණා. මේකට මොනව කරන්නද කියල උන් කල්පනා කළා. උන් හිතුවා, හිතුවා, හිතුවා. හිතලා උන් කළේ මෙයයි:



කුකුල් පැටිය ගිහිල්ල කොළයක් අරගෙන ආවා.





මීයා කොට්ටන් ලෙල්ලක් ගෙනාවා.
කුඹියා පිදුරු ගහක් ගෙනාවා.

කුරුමිණියා දිග කළු නූල් පොටක් ගෙනාවා.





ඉතින් ඔක්කොම දෙනා එකතු වෙලා වැඩ කරන්න පටන් ගත්තා. පිදුරු ගහ කොට්ටන් ලෙල්ල පතුලෙ ඇලෙව්වා. කොළේ පිදුරු ගහට තියල නූලෙන් බැන්දා. විනාඩියෙන් පදින්න පුළුවන් යස පුංචි ඔරුවක් ඔවුන් හදා ගත්තා.



ඔක්කොම එකතු වෙලා ඔරුව දියත් කරල ඔරුවට නැගලා ගියා.



මැඩියා ආයෙමත් හිනාවෙන්න හිතාගෙන වතුරෙන් මතු වුණා. නමුත් ඔරුව ඈත ගිහිල්ල. මැඩියට කිට්ටුවෙන්න බැරි තරමට ඔරුව ඈත.



අර්තාපල් හා කැරට්, ගස් උඩ වැවෙනව ද?
මේ පින්තූරයේ තව වැරදි විදියට තිබෙන්නේ මොනවා ද?



මීයො බය කාටදැයි ඔබට දැනගන්නට ඕන ද? ගන්න පාට පැන්සල් තුනක් - රතු, කළු හා කහපාට - කළු තිත් ඇති හිස්තැන් කළු පාටිනුත්, කහ තිත් ඇති තැන් කහ පාටිනුත්, රතු තිත් ඇති තැන් රතු පාටිනුත් පාට කරන්න.




පයනියර් කඳවුර බැලීමට මේ ළමයි පැමිණ සිටිනවා. එහෙත් දොරටුව වහලා. "අපි කොහොමද ඇතුළු වෙන්නේ ?" ඔවුන් අහනවා. කතුරක් ගන්න. ඔබට ඔවුන් සඳහා දොරටුව ඇර දිය හැකි දැයි බලන්න.





වසන්තය

මැඩියෙකුගේ සූරකම්

ළමයිනි, දැන් පින්තූර බොහොම පරිස්සමින් කපන්න. මෙන්න, එත
"මැඩියෙකුගේ සූරකම්", "වසන්තය" තව සංචාරක චිත්‍රපටි හතරක්





කාට ඔබට චිත්‍රපටි හතරක්: "ඉත්තෑවා හා හාවා", "අඩිපාර හොයන පේත්‍යා",
"මුහුදු වෙරළේ", "කඳු අතර", "උතුරේ" , "වනයේ."



මෙම පිටේ ඉරි ඇති තැන්වලින් දිගටම කපන්න. එවිට ඔබට දිගටි පින්තූර තුනක් ලැබෙයි.

මේ පින්තූරවලින් කැමති එකක් ඔබ වේගයෙන් එහාට මෙහාට හැරෙව්වොත් පයනියර් කඳවුරේ ළමයි කොතෙක් විනෝදයෙන් සිටිත් දැයි ඔබට බැලිය හැකිය.



මේ බල්ලන් දිහා බලන්න. ඔවුන් පූස් පැටියා වංගගිරියෙන් එළියට එනතුරු බලා ඉන්නවා. පූස් පැටියා අල්ලා ගන්න හැකි වේ යයි බල්ලො හිතනවා. නමුත් පූස් පැටියා පොඩියක් වත් උන්ට බය නෑ. ඌ දන්නවා කෙලින්ම පුංචි ගෑනු ළමයා ඉන්න තැනට යන පාර. බල්ලෝ මෝඩ නො වෙති ද?

ඔබද මේ පාර හොයන්ට වෑයම් කරන්න!






අපි කැමතියි, අපි කැමතියි
ටෙලිවිෂනය බලන්නට
ටිකට් ඕන නෑ අපි හට
පුටුවක හිඳ ටෙලිවිෂනය
දිහා බලන එක විතරයි.
ටෙලිවිෂනයෙ තිබෙන තිරෙන්
කදිම කදිම දේ බලතැකි:
චිත්‍රපටි හා නැටුම් ද
සර්කස් හා නාට්‍ය ද
ඔබට අපට සතුට ගෙනෙයි!
හැබැයි එපා පමා වෙන්න,
දෙකටයි එය පටන් ගන්නෙ.





අපි ටෙලිවිෂන් දර්ශනය පටන් ගනිමු. නමුත් ඊට ඉස්සරින් ටෙලිවිෂනය හරි ගස්සන්නට ඕනෑ. ටෙලිවිෂනයේ රතු ඉර දිගේ කැපීමෙන් ඔබ තිරයක් සාදා ගත යුතුයි. මෙහි ඇති චිත්‍ර තිරෑ සූදානම් කර ගන්න.





# දඟකාර පූසා



පුංචි ගෑනු ළමයා මේසය ළඟ වාඩි වී පින්තූර අඳිනවා. ව[illegible]න් පූසා පුටු ඇන්දට පැනල ඇය අඳින දිහා බලා ගෙන ඉන්ට උනා.

"මොනවද ඔයා කරන්නේ ?" පූසා ඇහුවා. (ඔබ දන්නව නේ පූසො විපරම්කාරී බව)

"මම උඹට ගෙයක් අඳිනවා" යි පුංචි ගෑනු ළමයා කීවා.

"බලන්න, මේ වහල, මේ දුම් කවුළුව, මේ තමා දොර."

"ඉතින් මම මොනවද ගෙදර කරන්නෙ ?"

"උඹට පුළුවන් බත් උයන්න."

පුංචි ගෑනු ළමයා දුම් කවුළුවෙන් දුම් පිට වෙනවා ඇන්දා.

"ඉතින් කෝ ජනේල ?" පූසා ඇහුවා. "ඔයා දන්නව නේ, පූසා හැම තිස්සේම ජනේලවලින් පැනල යන බව."

"මෙන්න තියනවා. - එකයි, දෙකයි, තුනයි, හතරයි," ඈ ඇන්දා කුඩා ජනේල හතරක්.



"ඉතින් මට ඇවිදින්න තැනක් හෙම තියනව ද?"

"මෙන්න තියනවා!"



පුංචි ගෑනු ළමයා ඇන්දා ගේ වටේට වැටක්. "ඒක උයන" ඈ කීවා.

පූසා ඉව කරා.

"අපෝ, ඒක උයනක් ය?" ඌ කීවා. "ඒකෙ මොකුත් නෑ නේ!"

"පොඩියක් ඉඳින් පූසො" පුංචි ගෑනු ළමයා කීවා. "මෙන්න උඹට මල් පාත්තියක් තියනවා, මෙන්න ඇපලුත් එක්ක ඇපල් ගහක්. තව එළවලු කොටුවක්. ඒකෙ කැරට්ටුයි ගෝවයි තියනවා."

"ගෝවා!" නහය හකුළමින් පූසා කීවා. "ඉතින් මම කොහෙන්ද මාළු අල්ලන්නෙ ?"

"මෙන්න තියනවා."





පුංචි ගෑනු ළමයා පොකුණක් ඇන්දා. පස්සෙ පොකුණෙ මාළු පීනනව ඇන්දා.

"ඒක අපූරුයි... ඉතින් කුරුල්ලො හෙම නැද්ද ?" පූසා විපරම්කාරීව ඇහුවා. "මම කුරුල්ලන්ට ආදරෙයි."

"ආ, ඔව්, මෙන්න කුකුළකුයි, කිකිළියකුයි. මෙන්න පාත්තයෙක්. තව කුකුල් පැටව් තුන් දෙනෙක්."

පූසා තොල් ලෙවකාලා පුරු පුරු ගෑවා. පස්සෙ හීන් හඬකින් අහනවා මෙහෙම:

"ඉතින් ගෙදර මීයො හෙම නැද්ද ?"

"අපෝ! නෑ, මීයො ඕන නෑ ගෙදරට!"

"ඉතින් කවුද ගේ බලා කියා ගන්නෙ ?"





"උඹට මුරකාරයෙක් ඕන කරනවා."

පුංචි ගෑනු ළමයා පොඩි ගෙයකුයි බල්ලෙකුයි ඇන්දා.

"මෙන්න උඹේ මුරකාරයා, එයාගෙ නම රෝවර්."

නමුත් පුංචි ගෑනු ළමයා බල්ලා අඳින කොට පූසා වල්ගය නැටෙව්වා, උගේ මයිල් කෙලින් හිටියා.

"මම ඔයාගෙ ගෙට පොඩියක්වත් කැමති නෑ. මම ඒකෙ ඉන්න කැමති නෑ." පූසා කීවා. එහෙම කියල ඌ කේන්තියෙන් යන්න ගියා.

ඌ දඟකාර පූසෙක් නේද ?







ගමනට සියල්ල ලැහැස්තියි !

දුම්රිය කවුළුවේ රතු ඉරි කපන්න. ඔබ කැපූ සංචාරක චිත්‍රපටි ඒ තුළට යොදන්න. දැන් ඔබට යන්න පුළුවන් ඔබ කැමති දිහාවකට - උතුරු කෙළවරට, මහා කැලෑවලට, කඳුවලට, දකුණුදිග උණුසුම් මුහුදට.

ලැහැස්තියි ? ඔන්න අපි ගියා!

# රුසියානු හා සෝවියට් සාහිත්‍ය සංගමයේ පණිවිඩය...



1991 වසරේ දී සිදු වූ සෝවියට් සංගමයේ බිඳවැටීමෙන් පසු ගත වූ වසර 15 තුළ දී, 'ප්‍රගති' හා 'රාදුගා' යන ප්‍රකාශක සමාගම් දෙක ප්‍රමුඛ සෝවියට් ආයතන විසින් සිංහල භාෂාවට පරිවර්තනය කොට පළ කරන ලද රුසියානු - සෝවියට් සාහිත්‍යයේ අනගි නිර්මාණ, අතිශය පිළිකුල් සහගත හා නින්දනීය ආකාරයෙන් අද ශ්‍රී ලංකාවෙහි විකෘති කිරීමට භාජනය වෙමින් පවතී. පරිවර්තකයා ගේ නාමය බැහැර කොට නැවත මුද්‍රණය කිරීම, මුල් පරිවර්තනයෙහි සුළු සංශෝධන කරමින් එකී පරිවර්තන කෘති හා චිත්‍ර, මේ කූට ව්‍යාපාරයෙහි නිරත ජාවාරම්කරුවන් ගේ ස්වතන්ත්‍ර නිර්මාණ ලෙස හුවා දැක්වීම ආදිය ඉන් කිහිපයකි. එපමණකින් නො නැවතුණු ඔවුහු ඒවා රටේ අධ්‍යාපන ජාලයටද එකතු කර හමාර ය. ශ්‍රී ලංකාවේ පරපුරු ගණනාවක ළමා මනස හැඩ ගැස් වූ රුසියානු - සෝවියට් ළමා පොත් කෙරේ මේ තත්ත්වය දැඩි ලෙස බලපා තිබේ.

මේ ව්‍යසනයෙන් රුසියානු - සෝවියට් කෘති මුදවා ගැනීමේ ඒකායන අරමුණින්, දශක පහක කාලයක් පුරා රුසියානු - සෝවියට් සාහිත්‍යය ශ්‍රී ලාංකිකයන්ට, සිංහල පමණක් නො ව දෙමළ හා ඉංග්‍රීසි බසින් ද හඳුන්වා දීමට පුරෝගාමීවූත්, එකී මෙහෙවර උදෙසා අති දැවැන්ත කාර්‍ය්‍ය කොටස ඉටුකළා වූත්, සෝවියට් ප්‍රකාශක ආයතනයන්හි ශ්‍රී ලංකාවේ එක ම නියෝජිතයා ලෙස කටයුතු කළා වූත්, ඒ මෙහෙය උදෙසා 2005 වසරේ දී කොළඹ රුසියානු කේන්ද්‍රය විසින් ලියෝ තෝල්ස්තෝයි සම්මානයෙන් පුද දෙනු ලැබුවාවූත් සී/ස ප්‍රෝග්‍රෙසිව් පබ්ලිෂින් හවුස් (සී/ස ප්‍රගති ප්‍රකාශක නිවස), සිය පාඨක ජාලය හා එක් ව ''රුසියානු හා සෝවියට් සාහිත්‍ය සංගමය'' පිහිටුවා ගෙන තිබේ.

මේ සංවිධානය සිය මුඛ්‍ය කාර්‍ය්‍යය ලෙස දකිනුයේ රුසියානු - සෝවියට් මුල් පරිවර්තන කෘති කිසිදු සංශෝධනයකින් හෝ සංස්කරණයකින් හෝ තොරව, මුල් පිටපතේ ගුණාත්මකභාවය හැකිතාක් උපරිම අයුරින් රැකගෙන නැවත පාඨකයා අතට පත් කිරීම යි. එහි දෙවැනි කාර්‍ය්‍යය වනුයේ සිංහල, දෙමළ හා ඉංග්‍රීසි භාෂාවලින් මෙතෙක් පළ වී නොමැති කෘති ද, රුසියානු භාෂාව මුඛ්‍ය සෝවියට් සංගමයේ භාවිත භාෂාවලින් හා ඉංග්‍රීසි බසින් ද පරිවර්තනය කර එළි දැක්වීම යි.

මේ සංවිධානය සතුව පවතින මූල්‍ය හා මානව සම්පත් පිළිබඳ ව සලකා බැලීමේ දී, මේ ඉටුකිරීමට සැරසෙනුයේ බැරෑරුම් කාර්යයකි. එහෙයින් මූල්‍ය අනුග්‍රහයෙන් මෙන් ම, මේ සංවිධානයේ සාමාජිකත්වය පුළුල් කිරීමට දායක වීමෙන් හා ඔබ සතුව සංරක්ෂණය වී පවතින මුල් පරිවර්තන ග්‍රන්ථවල පිටපත් ලබා දීමෙන් ඔබට ද ලාංකික පාඨකයන් උදෙසා අමිල සේවයක් ඉටු කළ හැක.

ඒ අනුව මින් මතුවට ලකුණ යටතේ 'ප්‍රගති පොතක්' නමින් එළි දකිනුයේ දූෂණය නො වූ, නො කෙළෙසුණු, නියම මුල් කෘති ය. එ නම් ඔබ ගේ පොත් ය.

**වැඩි විස්තර විමසීම සඳහා:**

**සී/ස ප්‍රෝග්‍රෙසිව් පබ්ලිෂින් හවුස්,**
**අංක 91, ආචාර්ය ඇන්. ඇම්. පෙරේරා මාවත, කොළඹ 08.**
**දුරකථන: 011 266[illegible] ෆැක්ස්: 011 2691610**

**ISBN 955-1319-03-6**



**මිල රු. 180/=**

මෙම කෘතියේ මුල් පිටපතක් සොයා ගැනීමට අසීරු වී තිබූ මොහොතේ ඉතා සද්සිතින් යුතුව එය අප වෙත ලබා දුන් වෛද්‍ය යසස් අබේවික්‍රම මහතාට රුසියානු හා සෝවියට් සාහිත්‍ය සංගමයේ ස්තූතිය පිරිනැමේ.